**64 S I, II**

අධ්‍යයන පොදු සහතික පත්‍ර (සාමාන්‍ය පෙළ) විභාගය, 2022(2023)
கல்விப் பொதுத் தராதரப் பத்திர (சாதாரண தர)ப் பரீட்சை, 2022(2023)
**General Certificate of Education (Ord. Level) Examination, 2022(2023)**

**දෙවන බස - සිංහල I, II**
இரண்டாம் மொழி - சிங்களம் I, II
Second Language - Sinhala I, II

පැය තුනයි
மூன்று மணித்தியாலம்
*Three hours*

**අමතර කියවීම් කාලය - මිනිත්තු 10 යි**
மேலதிக வாசிப்பு நேரம் - 10 நிமிடங்கள்
Additional Reading Time - 10 minutes

**අමතර කියවීම් කාලය ප්‍රශ්න පත්‍රය කියවා ප්‍රශ්න තෝරා ගැනීමටත් පිළිතුරු ලිවීමේ දී ප්‍රමුඛත්වය දෙන ප්‍රශ්න සංවිධානය කර ගැනීමටත් යොදා ගන්න.**

வினாப்பத்திரத்தை வாசித்து, வினாக்களைத் தெரிவுசெய்வதற்கும் விடை எழுதும்போது முன்னுரிமை வழங்கும் வினாக்களை ஒழுங்கமைத்துக் கொள்வதற்கும் மேலதிக வாசிப்பு நேரத்தைப் பயன்படுத்துக.

**Use additional reading time to go through the question paper, select the questions you will answer and decide which of them you will prioritise.**

## දෙවන බස - සිංහල I  இரண்டாம் மொழி - சிங்களம் I  Second Language - Sinhala I

උපදෙස්:
* **සියලු ම** ප්‍රශ්නවලට පිළිතුරු සපයන්න.
* අංක **1** සිට **40** තෙක් ප්‍රශ්නවල, දී ඇති (1), (2), (3), (4) උත්තරවලින් නිවැරදි හෝ වඩාත් ගැළපෙන හෝ උත්තරය තෝරා ගන්න.
* ඔබට සැපයෙන උත්තර පත්‍රයේ එක් එක් ප්‍රශ්නය සඳහා දී ඇති කව අතුරෙන් ඔබ තෝරා ගත් උත්තරයෙහි අංකයට සැසඳෙන කවය තුළ (X) ලකුණ යොදන්න.
* එම උත්තර පත්‍රයේ පිටුපස දී ඇති අනෙක් උපදෙස් ද සැලකිල්ලෙන් කියවා, ඒවා ද පිළිපදින්න.

அறிவுறுத்தல்கள்:
* எல்லா வினாக்களுக்கும் விடை எழுதுக.
* **1** தொடக்கம் **40** வரையுள்ள வினாக்கள் ஒவ்வொன்றிலும். (1), (2), (3), (4) என எண்ணிடப்பட்ட விடைகளில் **சரியான அல்லது மிகப் பொருத்தமான** விடையைத் தெரிவுசெய்க.
* உமக்கு வழங்கப்பட்டுள்ள விடைத்தாளில் ஒவ்வொரு வினாவுக்கும் உரிய வட்டங்களில் உமது விடையின் எண்ணை ஒத்த வட்டத்தினுள்ளே புள்ளடியை (X) இடுக.
* அவ்விடைத்தாளின் மறுபக்கத்தில் தரப்பட்டுள்ள மற்றைய அறிவுறுத்தல்களையும் கவனமாக வாசித்து, பின்பற்றுக.

**Instructions:**
* *Answer **all** questions.*
* *In each of the questions from **1** to **40**, pick one of the alternatives (1), (2), (3), (4) which you consider is **correct or most appropriate.***
* ***Mark a cross (X) on the number corresponding to your choice in the answer sheet provided.***
* *Further instructions are given on the back of the answer sheet. Follow them carefully.*

- අංක **1** සිට **5** තෙක් ප්‍රශ්නවල, **තද කළු අකුරෙන්** මුද්‍රිත පදය වෙනුවට යෙදිය හැකි වඩාත් සුදුසු පද යුගලය තෝරන්න.
  **1** தொடக்கம் **5** வரையுள்ள வினாக்களில் **தடித்த எழுத்தில்** தரப்பட்டுள்ள சொற்களுக்குப் பதிலாக இடத்தக்க மிகவும் பொருத்தமான சொற்சோடியைத் தெரிவுசெய்க.
  Select the most suitable pair of words for the word printed in **bold letters** in questions from No. **1** to **5**.

**1.** **පොතත්තෙක්ක** පැන්සලක් බිම වැටුණා.
(1) පොත එක්ක (2) පොතත් එක්ක (3) පොතත් තෙක්ක (4) පොතත්තෙ එක්ක

**2.** හයියෙන් **දිවුවොත්තෙහෙම** වැටෙන්නත් පුළුවන්.
(1) දිවුවොත් එහෙම (2) දිවුවාත් එහෙම (3) දිවුවොත් තෙහෙම (4) දිවුවො තෙහෙම

[ 2 වැනි පිටුව බලන්න / பக். 2 ஐப் பார்க்க / *see page two*

**3.** **මල්ලිත්තාවාම** අපි සෙල්ලම් කරමු.
(1) මල්ලිත් තාවාම (2) මල්ලි ආවාම (3) මල්ලිත් ආවාම (4) මල්ලි තාවාම

**4.** ඔයාට වතුර **බොන්නෝනද** ?
(1) බොන් ඕනද (2) බොන්නෝ නද (3) බොන ඕනද (4) බොන්න ඕනද

**5.** **අන්නතනින්** දකුණට හැරෙන්න.
(1) අන්න අතනින් (2) අන් අතනින් (3) අන්නා තනින් (4) අන්නත නින්

- අංක **6** සිට **10** තෙක් ප්‍රශ්නවල දී ඇති පද අතුරෙන් **නිවැරදි උච්චාරණය** සහිත උත්තරය තෝරන්න.
**6** தொடக்கம் **10** வரையான வினாக்களில் தரப்பட்டுள்ள சொற்களில் **சரியான உச்சரிப்பைத்** தரும் விடையைத் தெரிவுசெய்க.
Select the answer with **correct pronunciation** from the words given in questions from No. **6** to **10**.

**6.** (1) පුටු පේළිය (2) පුඩු බේලිය (3) පුඩු පේළිය (4) බුටු පේළිය

**7.** (1) මුකුදු වතුර (2) මුහුදු වදුර (3) මුහුදු වතුර (4) මුකුදු වදුර

**8.** (1) පොද් රාක්කය (2) පොත් රාක්කය (3) පොද් රාග්ගය (4) පොද් රාක්කය

**9.** (1) පොල්තෙල් පහන (2) පොල්දෙල් බහන (3) පොල්දෙල් පහන (4) බොල්දෙල් බහන

**10.** (1) මැණිග් පතල (2) මැණික් පතල (3) මැණික් පදල (4) මැණික් බතල

- අංක **11** සිට **14** තෙක් දී ඇති එක් එක් ප්‍රකාශය සඳහා **වඩාත් ගැළපෙන** ප්‍රශ්නය තෝරන්න.
**11** தொடக்கம் **14** வரையான ஒவ்வொரு கூற்றுக்கும் **மிகப்பொருத்தமான** வினாவைத் தெரிவுசெய்க.
Select the **most appropriate** question for each statement given from No. **11** to **14**.

**11.** සාරදා ගහක් යටට වෙලා පත්තරයක් කියවනවා.
(1) සාරදා පත්තරය කියවන්නේ කවදා ද? (2) සාරදා පත්තරය කියවන්නේ ඇයි?
(3) සාරදා කියවන පත්තරය මොකක් ද? (4) සාරදා පත්තර කියවන්නේ කොහේ සිට ද?

**12.** හෙට උදේ තාත්තාට පාසලට එන්න කිවුවා.
(1) තාත්තාට පාසලට එන්න කිවුවේ කවුද? (2) තාත්තාට පාසලට එන්න කිවුවේ කොයි වෙලාවට ද?
(3) තාත්තාට පාසලට එන්න කිවුවේ ඇයි? (4) තාත්තාට පාසලට එන්න කිවුවේ කොහේ සිට ද?

**13.** මල්ලී සරුංගල් යවන්න වත්ත පහළට ගියා.
(1) මල්ලී සරුංගල් යවන්න ගියේ කීයට ද? (2) මල්ලී සරුංගල් යවන්න ගියේ මොනවට ද?
(3) මල්ලී සරුංගල් යවන්න ගියේ කොහේට ද? (4) මල්ලී සරුංගල් යවන්න ගියේ ඇයි?

**14.** මලීගේ උපන් දිනේට ලස්සන තෑග්ගක් ලැබුණා.
(1) මලීගේ උපන් දිනේට ලැබුණේ මොකක් ද? (2) මලීගේ උපන් දිනය කවදා ද?
(3) මලීගේ උපන් දිනේ තියෙන්නේ කොහේ ද? (4) මලීගේ උපන් දිනේට යන්නේ කොහොම ද?

- අංක **15** සිට **17** තෙක් ප්‍රශ්නවල **නිවැරදි ව අකුරු** යෙදී ඇති උත්තරය තෝරන්න.
**15** தொடக்கம் **17** வரையான வினாக்களில் **சரியான எழுத்துக்கூட்டலைக்** கொண்ட சொல்லைத் தெரிவுசெய்க.
Select the answer with **correct spellings** in questions from No. **15** to **17**.

**15.** (1) ප්‍රදේසය (2) ප්‍රදේශය (3) ප්‍රදේෂය (4) ප්‍රදේගය

**16.** (1) සුවිසේස (2) සුවිශේෂ (3) සුවිශේෂ (4) සුවිෂේශ

**17.** (1) කළමනාකරණය (2) කලමනාකරනය (3) කළමනාකරනය (4) කලමණාකරණය

- අංක **18** සිට **20** තෙක් ප්‍රශ්නවල **නොගැළපෙන** පදය තෝරන්න.
**18** தொடக்கம் **20** வரையான வினாக்களில் **பொருத்தமற்ற** சொல்லைத் தெரிவுசெய்க.
Select the **inappropriate** word in questions from No. **18** to **20**.

**18.** (1) එල්ලේ (2) ක්‍රිකට් (3) වොලිබෝල් (4) උලෙළ

**19.** (1) ඉදිආප්ප (2) කෝපි (3) රොටි (4) බත්

**20.** (1) ගුරුතුමා (2) ගුරුතුමිය (3) ලේකම්තුමා (4) විදුහල්පතිතුමිය

[ 3 වැනි පිටුව බලන්න / பக். 3 ஐப் பார்க்க / *see page three*

- අංක **21** සිට **23** තෙක් ප්‍රශ්නවල මුලින් දී ඇති පදයට **සමානාර්ථයක් දෙන පදය** තෝරන්න.
  **21** தொடக்கம் **23** வரையான வினாக்களில் ஆரம்பத்தில் தரப்பட்ட சொல்லுக்கு **ஒத்தகருத்தைத் தரும் சொல்லைத்** தெரிவுசெய்க.
  Select the **synonym** for the word given at the beginning in questions from No. **21** to **23**.

**21.** විදුහල : (1) කාර්යාලය (2) පාසල (3) පුස්තකාලය (4) පන්සල

**22.** සින්දු : (1) කවි (2) පද්‍ය (3) නාට්‍ය (4) ගීත

**23.** යාළුවා : (1) මිතුරා (2) ළමයා (3) මිනිසා (4) සතුරා

- අංක **24** සහ **25** ප්‍රශ්නවල මුලින් දී ඇති පදයට **විරුද්ධාර්ථයක් දෙන පදය** තෝරන්න.
  **24, 25** ஆகிய வினாக்களில் ஆரம்பத்தில் தரப்பட்ட சொல்லுக்கு **எதிர்க்கருத்தைத் தரும் சொல்லைத்** தெரிவுசெய்க.
  Select the **antonym** for the word given at the beginning in questions No. **24** and **25**.

**24.** රළු : (1) රළ (2) අරළු (3) මෘදු (4) දෘඪ

**25.** දුක : (1) සැප (2) සුවය (3) රෝගී (4) සුලබ

- අංක **26** සිට **28** තෙක් එක් එක් ප්‍රශ්නයේ දී ඇති පින්තූරය සඳහා **වඩාත් ගැළපෙන අදහස** දැක්වෙන වරණය තෝරන්න.
  **26** தொடக்கம் **28** வரையான ஒவ்வொரு வினாவிலும் தரப்பட்டுள்ள படத்துக்கு **மிகப் பொருத்தமான கருத்தைத்** தரும் விடையைத் தெரிவுசெய்க.
  Select the option that gives the **most suitable idea** for the picture given in each question from No. **26** to **28**.

**26.**



(1) නළා රැගෙන ඒම තහනම්
(2) පාසලක් ඉදිරියෙනි
(3) වාද්‍ය භාණ්ඩ ගෙන යාම තහනම්
(4) නළා ශබ්ද කිරීම තහනම්

**27.**



(1) පදික මාරුව ඉදිරියෙනි
(2) පාර හරහා ගමන් නොකරන්න
(3) ඉරි මතින් ගමන් කරන්න
(4) ඇවිදින මංතීරුව ඉදිරියෙනි

**28.**



(1) මත්පැන් බීම තහනම්
(2) වීදුරු භාවිතය තහනම්
(3) වීදුරු අත ගාන්න එපා
(4) බිඳෙනසුලු භාණ්ඩ සහිත ය

- අංක **29** සහ **30** ප්‍රශ්නවලට **ගැළපෙන උත්තරය** තෝරන්න.
  **29, 30** ஆகிய வினாக்களுக்குப் **பொருத்தமான விடையைத்** தெரிவுசெய்க.
  Select the **suitable answer** for questions No. **29** and **30**.

**29.** තමන්ගේ යහපත ගැන පමණක් හිතන
(1) ආත්මාර්ථකාමී (2) පරාර්ථකාමී (3) ජනහිතකාමී (4) විනෝදකාමී

**30.** බලාපොරොත්තු නොවන කරදරයකට මුහුණ දීමට සිදු වීම
(1) උපකාරය (2) හිරිහැරය (3) අකරතැබ්බය (4) අවනම්බුව

[ 4 වැනි පිටුව බලන්න / பக். 4 ஐப் பார்க்க / *see page four*

- අංක **31** සහ **32** ප්‍රශ්නවල වාක්‍ය දෙක බැගින් දී ඇත. එම වාක්‍ය දෙක එක් වාක්‍යයක් ලෙස **නිවැරදි ව** සම්බන්ධ කර **ලියා ඇති වාක්‍යය** තෝරන්න.
**31, 32** ஆகிய வினாக்களில் இரு வாக்கியங்கள் தரப்பட்டுள்ளன. அந்த இரு வாக்கியங்களையும் **சரியாக** இணைத்து ஒரு வாக்கியமாக்கி **எழுதப்பட்டுள்ள வாக்கியத்தைத்** தெரிவுசெய்க.
In questions No. **31** and **32,** two sentences each are given. Select the **sentence** that **correctly** combines the two sentences.

**31.** වැස්ස දරුණු විය හැකි ය. එසේ වුවහොත් කන්ද නාය යා හැකි ය.
(1) වැස්ස දරුණු වීම නිසා කන්ද නාය යා හැකි ය. (2) වැස්ස දරුණු වුවහොත් කන්ද නාය යා හැකි ය.
(3) වැස්ස දරුණු වීමත් කන්ද නාය යාමත් විය හැකි ය. (4) වැස්ස දරුණු වුවහොත් කන්ද නාය යා යුතු ය.

**32.** විදුහල්පතිතුමා පැමිණියේ ය. රැස්වීම් ශාලාවේ සිටි සියලු දෙනාට ආචාර කළේ ය.
(1) රැස්වීම් ශාලාවට පැමිණි විදුහල්පතිතුමා එහි සිටි පිරිසට ආචාර කළේ ය.
(2) රැස්වීම් ශාලාවට විදුහල්පතිතුමා පැමිණියේ එහි සිටි පිරිසට ආචාර කළේ ය.
(3) රැස්වීම් ශාලාවේ සිටි පිරිස එහි පැමිණි විදුහල්පතිතුමාට ආචාර කළේ ය.
(4) රැස්වීම් ශාලාවේ සිටි විදුහල්පතිතුමා පැමිණි පිරිසට ආචාර කළේ ය.

- අංක **33** සහ **34** ප්‍රශ්නවල හිස්තැනට **වඩාත් සුදුසු උත්තරය** තෝරන්න.
**33, 34** ஆகிய வினாக்களிலுள்ள இடைவெளிக்கு **மிகவும் பொருத்தமான சொல்லைத்** தெரிவுசெய்க.
Select the **most suitable answer** to fill in each blank in questions No. **33** and **34**.

**33.** ගායකයා වේදිකාවට ....................................... පිරිස අත්වරසන් දුන්හ.
(1) නැග (2) නගිද්දී (3) නැග්ගොත් (4) නැග්ගේ

**34.** අක්කා සඟරාව ....................................... මට දුන්නා ය.
(1) කියවද්දී (2) කියවුවහොත් (3) කියවීමෙන් (4) කියවා

- අංක **35** ප්‍රශ්නයේ **තද කළු** පැහැයෙන් මුද්‍රිත සංඛ්‍යාව නිවැරදි ව අකුරෙන් ලියා ඇති පිළිතුර තෝරන්න.
**35** ஆம் வினாவில் **தடித்த எழுத்திலுள்ள** எண் சரியான எழுத்துகளால் எழுதப்பட்டுள்ள விடையைத் தெரிவுசெய்க.
Select the answer in which the number in **bold** print has been correctly written in letters in question No. **35**.

**35.** එම කන්ද අඩි **3548** ක් උස බව පැවසේ.
(1) තුන්දහස් පන්දහස් හතළිස් අට (2) තුන්සිය පන්දහස් හතළිස් අට
(3) තුන්දහස් පන්සිය හතළිස් අට (4) තුන්දහස් පන්සිය හාරසිය අට

- අංක **36** සිට **40** තෙක් එක් එක් ප්‍රශ්නයේ **ව්‍යාකරණානුකූල ව නිවැරදි** වාක්‍යය තෝරන්න.
**36** தொடக்கம் **40** வரையான ஒவ்வொரு வினாவிலும் **இலக்கணரீதியாக சரியான** வாக்கியத்தைத் தெரிவு செய்க.
Select the **grammatically correct** sentence in each question from No. **36** to **40**.

**36.** (1) ඔවුහු සතුටින් විනෝද චාරිකාවට සහභාගි වූවා ය. (2) ඔවුහු සතුටින් විනෝද චාරිකාවට සහභාගි විය.
(3) ඔවුන් සතුටින් විනෝද චාරිකාවට සහභාගි වූවෝ ය. (4) ඔවුහු සතුටින් විනෝද චාරිකාවට සහභාගි වූහ.

**37.** (1) මේ කැලෑවේ සිංහයන් සිටින බව වන නිලධාරියා පැවසුවේ ය.
(2) මේ කැලෑවේ සිංහයන් සිටින බව වන නිලධාරියා පැවසූහ.
(3) මේ කැලෑවේ සිංහයෝ සිටින බව වන නිලධාරියා පැවසුවෝ ය.
(4) මේ කැලෑවේ සිංහයෝ සිටින බව වන නිලධාරියා පැවසූහ.

**38.** (1) හදිසියේ ඇසුණු මහා ශබ්දයට සියල්ලෝ කලබල වූහ. (2) හදිසියේ ඇසුණු මහා ශබ්දයට සියල්ලන් කලබල විය.
(3) හදිසියේ ඇසුණු මහා ශබ්දයට සියල්ලන් කලබල වූහ. (4) හදිසියේ ඇසුණු මහා ශබ්දයට සියල්ලෝ කලබල විය.

**39.** (1) හෙට පැවැත්වෙන උපහාර උත්සවයට අප ද එක්වන්නෙමු.
(2) හෙට පැවැත්වෙන උපහාර උත්සවයට අපි ද එක්වන්නෙමු.
(3) හෙට පැවැත්වෙන උපහාර උත්සවයට අප ද එක්වෙති.
(4) හෙට පැවැත්වෙන උපහාර උත්සවයට අපි ද එක්වෙති.

**40.** (1) අසරණ වූ මිනිස්සු වෙනුවෙන් සමාජ සේවකයෝ ආධාර එකතු කළහ.
(2) අසරණ වූ මිනිසුන් වෙනුවෙන් සමාජ සේවකයන් ආධාර එකතු කළහ.
(3) අසරණ වූ මිනිස්සු වෙනුවෙන් සමාජ සේවකයන් ආධාර එකතු කළේය.
(4) අසරණ වූ මිනිසුන් වෙනුවෙන් සමාජ සේවකයෝ ආධාර එකතු කළහ.

**

[ 5 වැනි පිටුව බලන්න / பக். 5 ஐப் பார்க்க / *see page five*

64 S I, II

අධ්‍යයන පොදු සහතික පත්‍ර (සාමාන්‍ය පෙළ) විභාගය, 2022(2023)
கல்விப் பொதுத் தராதரப் பத்திர (சாதாரண தர)ப் பரீட்சை, 2022(2023)
General Certificate of Education (Ord. Level) Examination, 2022(2023)

දෙවන බස - සිංහල I, II
இரண்டாம் மொழி - சிங்களம் I, II
Second Language - Sinhala I, II

**දෙවන බස - සිංහල II** **இரண்டாம் மொழி - சிங்களம் II** **Second Language - Sinhala II**

- **I** කොටසේ අංක **1** හා **2** ප්‍රශ්න ඇතුළු ව **II** කොටසින් **එක්** ප්‍රශ්නයක් ද **III** කොටසින් ප්‍රශ්න **දෙකක්** ද තෝරා ගෙන ප්‍රශ්න **පහකට** පමණක් උත්තර ලියන්න.

  பகுதி **I** இல் **1** ஆம் **2** ஆம் வினாக்கள் உட்பட பகுதி **II** இல் **ஒரு** வினாவையும் பகுதி **III** இல் **இரு** வினாக்களையும் தெரிவுசெய்து எல்லாமாக **ஐந்து** வினாக்களுக்கு மாத்திரம் விடை எழுதுக.

  Answer only **five** questions including questions **1** and **2** in Part **I** and selecting **one** question from Part **II** and **two** questions from Part **III**.

## I කොටස / பகுதி I / Part I

**1.** දී ඇති මාර්ගෝපදේශ ඇසුරු කර ගෙන පහත දැක්වෙන මාතෘකාවලින් **එකක්** ගැන **වචන 100**ක පමණ රචනයක් ලියන්න.
பின்வரும் தலைப்புகளுள் **ஒன்றைத்** தெரிவுசெய்து அதன் கீழே தரப்பட்டுள்ள விடயங்களை அடிப்படையாகக் கொண்டு ஏறத்தாழ **100 சொற்களில்** அமையுமாறு ஒரு கட்டுரை எழுதுக.
Write an essay of about **100 words** on **one** of the following topics using the given guidelines.

(අ) මුහුදු වෙරළක අසිරිය
- (i) හැඳින්වීම
- (ii) මුහුදු වෙරළෙහි සුන්දරත්වය
- (iii) සුන්දරත්වය ඇති වීමට හේතු
- (iv) සුන්දරත්වය විඳීමෙන් ලැබෙන සතුට
- (v) සමාලෝචනය

(ආ) ගෙවතු වගාවට හුරු වෙමු
- (i) හැඳින්වීම
- (ii) ගෙවතු වගා කිරීමේ වැදගත්කම
- (iii) ගෙවතු වගා කළ හැකි ආකාරය
- (iv) එයින් ලැබෙන ප්‍රයෝජන
- (v) සමාලෝචනය

(ඉ) අපේ ගමේ අවුරුදු උත්සවය
- (i) හැඳින්වීම
- (ii) අවුරුදු උත්සවයේ ස්වභාවය
- (iii) පැවැත්වුණු ක්‍රීඩා
- (iv) ගමේ අය සතුටු වූ අයුරු
- (v) සමාලෝචනය

(ඊ) අසරණයන්ට පිහිට වෙමු
- (i) හැඳින්වීම
- (ii) අසරණයන්ට පිහිටවීමේ අවශ්‍යතාව
- (iii) අසරණයන්ට පිහිට විය යුතු ආකාරය
- (iv) එයින් ලබාගත හැකි සතුට
- (v) සමාලෝචනය

(උ) පොත්පත් කියවීමේ අගය
- (i) හැඳින්වීම
- (ii) පොත්පත් කියවීමේ අවශ්‍යතාව
- (iii) එයින් ලබාගත හැකි ප්‍රයෝජන
- (iv) පොත්පත් කියවීමෙන් ලැබෙන සතුට
- (v) සමාලෝචනය

[ 6 වැනි පිටුව බලන්න / பக். 6 ஐப் பார்க்க / *see page six*

**2.** දී ඇති පින්තූරය බලා, ඒ ඇසුරෙන් අර්ථවත් වාක්‍ය **පහක්** ගොඩනගන්න.
(වාක්‍යයක අවම වශයෙන් වචන **හතරක්වත්** තිබිය යුතු ය.)
தரப்பட்டுள்ள படத்தை அடிப்படையாகக் கொண்டு கருத்துள்ள **ஐந்து** வாக்கியங்கள் எழுதுக.
(ஒரு வாக்கியத்தில் குறைந்தபட்சம் **நான்கு** சொற்களாவது இருத்தல் வேண்டும்.)
Compose **five** meaningful sentences with reference to the given picture.
(There should be at least **four** words in a sentence).



## II කොටස / பகுதி II / Part II

- අංක **3** හා **4** යන ප්‍රශ්නවලින් **එකකට** පමණක් උත්තර සපයන්න.
**3** ஆம் **4** ஆம் வினாக்களுள் ஏதேனும் **ஒரு** வினாவுக்கு மாத்திரம் விடை எழுதுக.
Answer only **one** question from questions No. **3** and **4**.

**3.** පහත සඳහන් කවි පෙළ කියවා, අසා ඇති ප්‍රශ්නවලට උත්තර ලියන්න.
பின்வரும் கவிதையை வாசித்து, கேட்கப்பட்டுள்ள வினாக்களுக்கு விடை எழுதுக.
Read the following poem and answer the questions given.

මහවැලි - කැලණි - වළවේ - කළු යන ගංගා
සමනල කන්ද මුදුනේ සිට පැන නැංගා
බෑවුම් තැනිතලා හෙල් අතරෙන් රිංගා
මේවා ගලයි මිණිකැට දිය යට හංගා

තෝපා - තබලගම - මිණිපේ - මින්නේ රී
මහ වැව්වලින් දියවැල් ඇදෙමින් බේ රී
සරු කරවයි කුඹුරු නිල් පැහැයෙන් මේ රී
මගෙ ලක් මැණියැන්දැ හරි පින් කා රී

(i) මෙහි සඳහන් ගංගා පටන් ගන්නේ කොහෙන් ද?
(ii) කවි පෙළේ සඳහන් වැව් **දෙකක** නම් ලියන්න.
(iii) වැව් ජලයෙන් ලැබෙන ප්‍රයෝජනය කුමක් ද?
(iv) මෙහි 'ලක් මැණියන්දැ' යන්නෙන් අදහස් කරන්නේ කුමක් ද?
(v) 'කෙත්' යන්නට සමානාර්ථ පදයක් කවි පෙළෙන් උපුටා ලියන්න.

**4.** පහත දැක්වෙන ඡේදය කියවා, අසා ඇති ප්‍රශ්නවලට උත්තර ලියන්න.
பின்வரும் உரைப்பகுதியை வாசித்து, கேட்கப்பட்டுள்ள வினாக்களுக்கு விடை எழுதுக.
Read the following paragraph and answer the given questions.

විශාල කුඹුරු යායක් මැද පිහිටි අක්කර තුනක පමණ වූ බිම් කැබැල්ලකි. මෙම ගොඩබිමෙහි ගෙවල් දෙකක් පිහිටා ඇත. ඉන් එක ගෙයක් අතිකට වඩා පැරණි ය. දින දෙක තුනක් තිස්සේ මද වැසි වැස්සත් කුඹුරු යාය ජලයෙන් යට වී යයි. කුඹුරු යාය පමණක් නොව අසළින් වැටී ඇති මහා මාර්ගය ද ජලය පිරී යට වෙයි. එවිට මෙම බිම් කැබැල්ල සාගරයෙන් වට වූ දූපතක සිරිය ගනියි. ගොඩබිම් කැබැල්ල කුඹුරු මට්ටමේ සිට සැහෙන උසකින් පිහිටා ඇති නිසා විශාල ජල ගැල්මකින් වුව ද එය යට නොවේ. මහ වැසි කාලයේ දී කුඹුරු යාය ජලයෙන් යටවීමෙන් කුඹුරු පාළුවීම ගොවියාට මහත් පාඩුවකි. සෑම අවුරුද්දකම පාහේ මෙම පාඩුව විඳ දරා ගැනීමට ගොවියන්ට සිදු වේ.

(i) ගොඩබිම් කැබැල්ල පිහිටා තිබුණේ කොහේ ද?
(ii) ඡේදයට අනුව වැසි කාලයේ දී ජලයෙන් යට වන ස්ථාන **දෙකක්** ලියන්න.
(iii) ගොඩබිම් කැබැල්ල ජලයෙන් යට නොවීමට හේතුව ලියන්න.
(iv) මහ වැසි කාලයේ දී ගොවියාට සිදුවන පාඩුව කුමක් ද?
(v) 'වතුර' යන්නට සමානාර්ථ පදයක් ඡේදයෙන් උපුටා ලියන්න.

## III කොටස / பகுதி III / Part III

- අංක **5** හා **6** යන ප්‍රශ්න **දෙකට ම** උත්තර සපයන්න.
**5, 6** ஆகிய **இரண்டு** வினாக்களுக்கும் விடை எழுதுக.
Answer **both** questions No. **5** and **6**.

**5.** පහත දැක්වෙන තොරතුරු පදනම් කර ගෙන දැන්වීම් පත්‍රිකාවක් සකස් කරන්න.
பின்வரும் விடயங்களைக் கருத்திற்கொண்டு அறிவித்தலொன்றை தயாரிக்குக.
Prepare a notice based on the following details.

පාසල් හැර ගිය තරුණ තරුණියන් ස්වයං රැකියා සඳහා යොමු කිරීමේ අදහසින් විකසිතගම සංවර්ධන සමිතිය කෙටි කාලීන පුහුණු පාඨමාලා කිහිපයක් ආරම්භ කිරීමට සැලසුම් කර ඇත.

මේ සම්බන්ධ ආරම්භක රැස්වීම 2023 ජුනි මස 15 වන දින ප.ව. 2.30ට විකසිතගම මහ විදුහලේ විදුහල්පතිතුමාගේ ප්‍රධානත්වයෙන් ගමේ ප්‍රජා ශාලාවේ දී පැවැත්වීමට අපේක්ෂිත ය. ආරම්භ කිරීමට සැලසුම් කර ඇති පාඨමාලා ද සඳහන් කරමින් මේ පිළිබඳව තරුණ තරුණියන් දැනුවත් කිරීම සඳහා සුදුසු දැන්වීම් පත්‍රිකාවක් සකස් කරන්න.

සංවර්ධන සමිතියේ ලේකම් ප්‍රදීප් කරුණානායක ඔබ යැයි සිතන්න.

**නැතහොත්**
**அல்லது**
**Or**

පහත දැක්වෙන තොරතුරු පදනම් කර ගෙන ප්‍රාදේශීය ලේකම් වෙත යැවීමට සුදුසු රාජකාරි ලිපියක් ලියන්න.
பின்வரும் விடயங்களைக் கருத்திற்கொண்டு பிரதேச செயலாளருக்கு உத்தியோகபூர்வ கடிதமொன்றை எழுதுக.
Based on the following facts write an official letter to be sent to Divisional Secretary.

විකසිතගම පොදු වෙළෙඳ පොළ සඳහා ඉදිකර ඇති ගොඩනැගිල්ල අබලන් වී ඇත. මේ නිසා වෙළෙඳුන්ට මෙන් ම පාරිභෝගිකයන්ට ද මහත් දුෂ්කරතාවලට මුහුණ දීමට සිදු වී තිබේ. මතුව ඇති දුෂ්කරතා සඳහන් කරමින් අදාළ ගොඩනැගිල්ල කඩිනමින් අලුත්වැඩියා කර දෙන ලෙස ඉල්ලා ප්‍රාදේශීය ලේකම්තුමාට යැවීමට ලිපියක් සකස් කරන්න.

6. පහත දැක්වෙන දෙමළ / ඉංග්‍රීසි වාක්‍ය **සිංහලට** පරිවර්තනය කරන්න.
கீழே தரப்பட்டுள்ள தமிழ் / ஆங்கில வாக்கியங்களை **சிங்களத்தில்** மொழிபெயர்க்க.
Translate the following Tamil / English sentences into **Sinhala**.

(i) நாம் எமது அறைகளை இன்று நேர்த்தியாக சுத்தம் செய்கிறோம்.
Today, we are cleaning our rooms properly.

(ii) பாடசாலை மாணவர்கள் பறவைக் கூட்டத்தைப் போன்று படலைக்கு வெளியே வந்தனர்.
School children came out of the gate like a flock of birds.

(iii) காலையிலிருந்து மழை பெய்து கொண்டிருக்கின்றது.
It has been raining since morning.

(iv) மின்சாரம் துண்டிக்கப்பட்டபோது நான் படித்துக்கொண்டிருந்தேன்.
I was studying when the power went off.

(v) உங்களது இரக்கப் பண்பிற்கு நான் நன்றி கூறுகிறேன்.
I would like to thank you for your kindness.

**නැතහොත්**
**அல்லது**
**Or**

පහත සඳහන් තොරතුරු පදනම් කර ගෙන සංවාදයක් ලියන්න. (වාක්‍ය **10ක්** ප්‍රමාණවත් වේ.)
பின்வரும் தகவல்களை அடிப்படையாகக் கொண்டு உரையாடல் ஒன்று எழுதுக. (**10** வாக்கியங்கள் போதுமானவை.)
Write a dialogue based on the following information. (**10** sentences are enough.)

කුඩා තේ වතු සංවර්ධන අධිකාරිය තේ වගාකරුවන් සඳහා දිරි දීමනාවක් ලබා දීමට අදහස් කර ඇති බව ඔබට දැන ගන්නට ලැබෙයි. මේ සම්බන්ධයෙන් වැඩිදුර තොරතුරු ලබා ගැනීම සඳහා අදාළ තේ පර්යේෂණ නිලධාරියා සමග ඔබ කරන සංවාදය ලියන්න. ඒ සඳහා පහත සඳහන් කරුණු උපයෝගි කර ගන්න.

- නිලධාරියා මුණගැසීම හා සුබ පැතීම
- අදාළ කරුණ සම්බන්ධයෙන් කරන සාකච්ඡාව
- සමුගැනීම

* * *